63 S I, II

අධ්‍යයන පොදු සහතික පත්‍ර (සාමාන්‍ය පෙළ) විභාගය, 2021(2022)
கல்விப் பொதுத் தராதரப் பத்திர (சாதாரண தர)ப் பரீட்சை, 2021(2022)
General Certificate of Education (Ord. Level) Examination, 2021(2022)

**ව්‍යවසායකත්ව අධ්‍යයනය I, II**
முயற்சியாண்மைக் கற்கை I, II
Entrepreneurship Studies I, II

පැය තුනයි
மூன்று மணித்தியாலம்
*Three hours*

**අමතර කියවීම් කාලය - මිනිත්තු 10 යි**
மேலதிக வாசிப்பு நேரம் - 10 நிமிடங்கள்
Additional Reading Time - 10 minutes

**අමතර කියවීම් කාලය ප්‍රශ්න පත්‍රය කියවා ප්‍රශ්න තෝරා ගැනීමටත් පිළිතුරු ලිවීමේදී ප්‍රමුඛත්වය දෙන ප්‍රශ්න සංවිධානය කර ගැනීමටත් යොදාගන්න.**

## ව්‍යවසායකත්ව අධ්‍යයනය I

**උපදෙස්:**

* **සියලු ම** ප්‍රශ්නවලට පිළිතුරු සපයන්න.
* අංක **1** සිට **40** තෙක් ප්‍රශ්නවල, දී ඇති (1), (2), (3), (4) යන පිළිතුරුවලින් **නිවැරදි හෝ වඩාත් ගැළපෙන හෝ** පිළිතුර තෝරා ගන්න.
* **ඔබට සැපයෙන පිළිතුරු පත්‍රයේ එක් එක් ප්‍රශ්නය සඳහා දී ඇති කව අතුරෙන් ඔබ තෝරාගත් පිළිතුරෙහි අංකයට සැසඳෙන කවය තුළ (X) ලකුණ යොදන්න.**
* එම පිළිතුරු පත්‍රයේ පිටුපස දී ඇති අනෙක් උපදෙස් ද සැලකිල්ලෙන් කියවා, ඒවා ද පිළිපදින්න.

**1.** ව්‍යවසායකත්වයේ සුවිශේෂත ම වැදගත්කම වන්නේ
(1) සම්පත් උපරිම මට්ටමින් භාවිතයයි. (2) නව නිෂ්පාදිත බිහිවීමයි.
(3) ඉහළ ප්‍රතිලාභ ලැබීමයි. (4) වැඩි අවදානම් දැරීමයි.

**2.** 'සෑම ව්‍යවසායකයකුට ම තම ව්‍යාපාරය තුළින් ළඟාකර ගැනීමට බලාපොරොත්තුවන සිහිනයක් ඇත.' මෙම ප්‍රකාශයෙන් පෙන්නුම් කෙරෙන ව්‍යවසායකත්ව ගති ලක්ෂණය වන්නේ
(1) නිර්මාණශීලීත්වයයි. (2) නම්‍යශීලීත්වයයි.
(3) දැක්මයි. (4) නායකත්වයයි.

**3.** ව්‍යවසායකයකුගේ මූලික අරමුණ විය යුත්තේ
(1) තමාගේ ජීවිතයේ ස්ථිර බවක් ගොඩනඟා ගැනීම ය.
(2) සෑම විට ම සමාජයීය මෙහෙවරක නියැලීම ය.
(3) සම්පත් භාවිත කරමින් ලාභ වැඩි කර ගැනීම ය.
(4) තමාගේ හා සමාජයේ යහපත උදෙසා කටයුතු කිරීම ය.

**4.** 'ව්‍යවසායකයෝ රැකියා අවස්ථා උත්පාදනය කරති.' මෙය සැලකිය හැක්කේ ව්‍යවසායකත්වයේ
(1) ආර්ථික මට්ටමේ ප්‍රතිලාභයක් ලෙස ය. (2) ජාතික මට්ටමේ ප්‍රතිලාභයක් ලෙස ය.
(3) ග්‍රාමීය මට්ටමේ ප්‍රතිලාභයක් ලෙස ය. (4) සමාජයීය මට්ටමේ ප්‍රතිලාභයක් ලෙස ය.

**5.** 'ව්‍යාපාරයක හිමිකරුවකු වන සුගත් තම කළමනාකරුවන්ට හා සේවකයින්ට නිතරම පවසන්නේ සෑම විට ම වෙනත් ආකාරයකට සිතීමටත් තම භාණ්ඩ නවත ම ස්වරූපයකින් වෙළෙඳපොළට ඉදිරිපත් කරන ලෙසත් ය.' ඉහත ප්‍රකාශනයට අනුව සුගත් තුළ පවතින ව්‍යවසායකත්ව ගති ලක්ෂණ මොනවා ද?
(1) නිර්මාණශීලීත්වය, නවෝත්පාදනය හා අවදානම් දැරීම
(2) ආත්ම විශ්වාසය, නම්‍යශීලීත්වය හා නිර්මාණශීලීත්වය
(3) අනාගත දැක්ම, අවදානම් දැරීම හා නවෝත්පාදනය
(4) අධිෂ්ඨානය, කැපවීම හා නිර්මාණශීලීත්වය

**6.** භාණ්ඩ හා සේවා නිෂ්පාදනය කිරීමට අවශ්‍යවන නිෂ්පාදන සාධකයක්වන ප්‍රාග්ධනය සඳහා නිදසුනක් වන්නේ
(1) ගොවිතැන සඳහා යොදාගනු ලබන වැසි ජලයයි.
(2) කර්මාන්තශාලාව සඳහා භාවිත කෙරෙන ගොඩනැගිල්ලයි.
(3) භාණ්ඩ නිෂ්පාදනය සඳහා යොදාගනු ලබන මිනිස් ශක්තියයි.
(4) භාණ්ඩ නිෂ්පාදනය සඳහා භාවිත කෙරෙන නිර්මාණශීලීත්වයයි.

[දෙවැනි පිටුව බලන්න.

7. ව්‍යාපාරිකයකු තම ව්‍යාපාරයේ දුර්වලතා හඳුනාගනු ලබන්නේ
(1) බාහිර පරිසරය විශ්ලේෂණය තුළිනි. (2) ආර්ථික පරිසරය විශ්ලේෂණය තුළිනි.
(3) අභ්‍යන්තර පරිසරය විශ්ලේෂණය තුළිනි. (4) සමාජයීය පරිසරය විශ්ලේෂණය තුළිනි.

8. සුනිල්ට තම නිෂ්පාදනය විදේශීය ගැනුම්කරුවකුට හඳුන්වාදීමට අවශ්‍ය වී ඇත. මේ සඳහා ඔහුට භාවිත කළ හැකි වඩාත් ම සුදුසු ක්‍රමය වන්නේ
(1) දුරකථන ක්‍රමයයි. (2) විද්‍යුත් තැපැල් ක්‍රමයයි.
(3) සාකච්ඡා ක්‍රමයයි. (4) මාර්ගගත ක්‍රමයයි.

9. කමල්, අමල් හා නිමල් යන ව්‍යවසායකයින් පිළිබඳව තොරතුරු කිහිපයක් පහත දැක්වේ.
**කමල්** – තම පාසල සඳහා ඵලදායිතා සම්මානය ලබාගත් රජයේ පාසලක විදුහල්පතිවරයකි.
**අමල්** – සුපිරි වෙළෙඳසැලක් සාර්ථකව පවත්වාගෙන යාමෙන් ඉහළ ආදායමක් උපයන්නෙකි.
**නිමල්** – තම ප්‍රදේශයේ මත්ද්‍රව්‍ය නිවාරණය සඳහා සාර්ථක වැඩසටහනක් ක්‍රියාත්මක කරයි.
ව්‍යාපාරික ව්‍යවසායකයා, සමාජයීය ව්‍යවසායකයා සහ අභ්‍යන්තර ව්‍යවසායකයා පිළිවෙළින් දැක්වෙන පිළිතුර තෝරන්න.
(1) අමල්, කමල්, නිමල් (2) නිමල්, අමල්, කමල්
(3) අමල්, නිමල්, කමල් (4) කමල්, නිමල්, අමල්

10. ව්‍යවසායකයකුට සමාජයීය සුභසාධනය සඳහා දායක විය හැකි ආකාරයක් වන්නේ
(1) පරිසරයේ භාවිතයට නොගත් සම්පත් භාවිතයට ගැනීම ය.
(2) ස්වාභාවික විපත්වල දී මහජනතාවට උපකාර කිරීම ය.
(3) රටේ සමස්ත නිෂ්පාදනය වැඩි කිරීමට දායක වීම ය.
(4) රජයට අදාළ බදු මුදල් නිසි පරිදි ගෙවීම ය.

11. වර්තමාන සමාජයේ ඉතාමත් ජනප්‍රිය ස්මාර්ට් ජංගම දුරකථනය වෙළෙඳපොළට ඉදිරිපත් කර ඇත්තේ
(1) නව සොයාගැනීමක් ලෙස ය. (2) දිගුවක් ලෙස ය.
(3) අනුකරණයක් ලෙස ය. (4) සංකලනයක් ලෙස ය.

12. ව්‍යවසායකයකුට මුහුණපෑමට සිදුවිය හැකි අභියෝග හා තර්ජන හඳුනා ගැනීමට ඇති හැකියාව සැලකිය හැක්කේ
(1) සංකල්පනාත්මක කුසලතාවක් ලෙස ය. (2) මානව කුසලතාවක් ලෙස ය.
(3) තාක්ෂණික කුසලතාවක් ලෙස ය. (4) නායකත්ව කුසලතාවක් ලෙස ය.

13. ශ්‍රී ලංකාවේ පවතින ව්‍යාපාර අතුරෙන් ප්‍රාථමික අංශයට අයත් වන්නේ
(1) ගොඩනැගිලි ඉදිකිරීම ය. (2) සිල්ලර වෙළෙඳ ව්‍යාපාර පවත්වාගෙන යාම ය.
(3) මිරිදිය මසුන් ඇති කිරීම ය. (4) රක්ෂණ ආයතන පවත්වාගෙන යාම ය.

14. කාබනික පොහොර නිෂ්පාදන ව්‍යාපාරයක ශක්තියක් ලෙස සැලකිය හැක්කේ
(1) රසායනික පොහොර ආනයනය සීමා කිරීම ය.
(2) දැනුම හා පුහුණුව ඇති සේවකයින් සිටීම ය.
(3) ගොවීන් අතර කාබනික පොහොර භාවිතය වැඩිවීම ය.
(4) රජය මගින් කාබනික පොහොර භාවිතය දිරි ගැන්වීම ය.

15. විදේශ විනිමය අනුපාතයේ වෙනස්වීම් ව්‍යාපාර කෙරෙහි බලපෑම් ඇති කරයි. මෙය අයත් වන්නේ
(1) සමාජ හා සංස්කෘතික පරිසරයට ය. (2) ආර්ථික පරිසරයට ය.
(3) ප්‍රජා පරිසරයට ය. (4) තාක්ෂණික පරිසරයට ය.

16. සමාජයීය වගකීමක් ලෙස සැලකිය හැකි ව්‍යාපාරික තීරණයක් වන්නේ
(1) සේවක වැටුප් වැඩි කිරීම ය.
(2) ඵලදායී ආයෝජන මාර්ගවල මුදල් යෙදවීම ය.
(3) රැකියා ලබාදීමේ දී විශේෂ අවශ්‍යතා සහිත අයට ද අවස්ථාව ලබා දීම ය.
(4) සේවකයින් සඳහා නව ණය යෝජනා ක්‍රමයක් හඳුන්වාදීම ය.

17. විශාල ප්‍රමාණයේ කිරිපිටි පැකට් (Jumbo pack) වෙළෙඳපොළට ඉදිරිපත් කිරීමේ දී යොදාගත හැකි පිවිසුම් උපාය මාර්ගය වන්නේ
(1) සුවිශේෂ නව භාණ්ඩයක් ලෙස ඉදිරිපත් කිරීම ය.
(2) නිෂ්පාදිත ප්‍රභේදනයක් ලෙස ඉදිරිපත් කිරීම ය.
(3) නවෝත්පාදනයක් ලෙස ඉදිරිපත් කිරීම ය.
(4) වෙළෙඳපොළ හිඩැස පිරවීමක් ලෙස ඉදිරිපත් කිරීම ය.

[තුන්වැනි පිටුව බලන්න.

**18.** ශාන් තම ව්‍යාපාරයේ නිෂ්පාදිතවල ගුණාත්මකභාවය අඩු කෙරෙන කිසිදු ක්‍රියාවක් නොකරන අතර ඒවායේ ගුණාත්මක බව තවදුරටත් වර්ධනය කිරීම සඳහා නිතරම උත්සාහ කරයි. මේ තුළින් ශාන් ඉටු කරන්නේ
(1) ආර්ථික වගකීමකි. (2) නීතිමය වගකීමකි.
(3) සදාචාරාත්මක වගකීමකි. (4) පරාර්ථකාමී වගකීමකි.

**19.** 'ව්‍යවසායකයකු ව්‍යාපාරයක් පවත්වාගෙන යාමේ දී ව්‍යාපාර ආචාරධර්මවලට අනුව වැඩ කළ යුතු ය.' මෙයින් අදහස් වන්නේ ව්‍යවසායකයා සැම විට ම
(1) අවංක විය යුතු බවයි.
(2) නීතිරීති පිළිපැදිය යුතු බවයි.
(3) සාමාජයීය වශයෙන් යහපත් දේ කළ යුතු බවයි.
(4) සම්පත් කාර්යක්ෂමව මෙහෙයවිය යුතු බවයි.

**20.** ව්‍යාපාරයක ආසන්න පරිසර බලවේග පමණක් ඇතුළත් පිළිතුර තෝරන්න.
(1) අයිතිකරුවන් හා කළමනාකරුවන් (2) කළමනාකරුවන් හා ගනුදෙනුකරුවන්
(3) සැපයුම්කරුවන් හා සේවකයින් (4) ගනුදෙනුකරුවන් හා තරගකරුවන්

**21.** ව්‍යාපාර ආයතනයකට තරගකරුවන් අඩුවීම සැලකිය හැක්කේ එම ව්‍යාපාර සංවිධානයට
(1) තර්ජනයක් ලෙස ය. (2) අවස්ථාවක් ලෙස ය.
(3) ශක්තියක් ලෙස ය. (4) දුර්වලතාවක් ලෙස ය.

**22.** ව්‍යවසායකයකුගේ මානව කුසලතාවක් ලෙස සැලකිය හැක්කේ කුමක් ද?
(1) තරගයට සාර්ථකව මුහුණදීම
(2) සේවකයින්ට නිසි ලෙස රාජකාරි පැවරීම
(3) වාර්තා හා තොරතුරු අදාළ පාර්ශවවලට බෙදාහැරීම
(4) සේවකයින්ගේ ගැටලු හඳුනාගැනීම හා ඒවා විසඳීම

**23.** වර්තමාන ව්‍යාපාර පරිසරයේ දැකිය හැකි ප්‍රධාන ලක්ෂණයක් වන්නේ
(1) අවශ්‍යතා හා වුවමනා සරල වීම ය.
(2) පාරිභෝගිකයන් බලවත් වීම ය.
(3) කුඩා ප්‍රදේශයකට පමණක් වෙළෙඳපොළ සීමා වීම ය.
(4) ලාභය ප්‍රධාන අරමුණ වීම ය.

**24.** පරිසරයට හා වෙනත් කිසිදු පාර්ශවයකට හානි සිදු නොවන ආකාරයෙන් ව්‍යාපාරයක් ලාභ ඉපයිය යුතු ය. ඒ සඳහා ව්‍යාපාර කටයුතු කළ යුත්තේ,
(1) නීති පද්ධතියකට අනුව ය. (2) ආචාරධර්ම පද්ධතියකට අනුව ය.
(3) අයිතිකරුගේ උපදෙස් අනුව ය. (4) රජයේ නීති හා රෙගුලාසිවලට අනුව ය.

**25.** පේටන්ට් බලපත්‍රය (ස්වාධිකාරය) පිළිබඳ **අසත්‍ය** ප්‍රකාශය කුමක් ද?
(1) මෙය නව සොයාගැනීමක අයිතිය ආරක්ෂා කරයි.
(2) මෙහි වලංගු කාලය වසර 20කට සීමා වේ.
(3) අයිතිකරුට මෙය වෙනත් අයෙකුට අලෙවි කළ නොහැකි ය.
(4) නව සොයාගැනීම වෙළඳපොළට ඉදිරිපත් කිරීමට මෙය අත්‍යවශ්‍ය නොවේ.

**26.** කේවල ස්වාමි ව්‍යාපාරයක හා පෞද්ගලික සමාගමක දක්නට ලැබෙන පොදු ලක්ෂණයක් වන්නේ
(1) වගකීම සීමාසහිත වීම ය.
(2) නීතිමය පුද්ගලභාවයක් තිබීම ය.
(3) එක් පුද්ගලයෙකුට වුව ද ආරම්භ කළ හැකි වීම ය.
(4) කළමනාකරණය අනිවාර්යයෙන් ම අධ්‍යක්ෂ මණ්ඩලයක් විසින් කළ යුතු වීම ය.

**27.** ව්‍යාපාර අවස්ථාවක් බවට පත් කළ හැකි හොඳ ව්‍යාපාර අදහසක් ජනිතවීමට පුද්ගලයකු තුළ අනිවාර්යයෙන් ම තිබිය යුතු ලක්ෂණ වන්නේ
(1) ඉවසීම හා නම්‍යශීලීත්වයයි. (2) කැමැත්ත හා නිර්මාණශීලීත්වයයි.
(3) ආත්ම විශ්වාසය හා හැකියාවයි. (4) ස්වාධීනත්වය හා නිර්මාණශීලීත්වයයි.

[හතරවැනි පිටුව බලන්න.

**28.** වරලත් ව්‍යාපාරයක 'පුරස්කාරය' ලෙස හැඳින්වෙන්නේ කුමක් ද?
(1) වරලත් හිමියා විසින් වරලත් ලාභියාට තම වෙළෙඳ නාමය යටතේ භාණ්ඩ හා සේවා විකිණීම සඳහා ලබාදෙන අවසරය
(2) වරලත් හිමියා වරලත් ලාභියාට තම වෙළෙඳ නාමය යටතේ භාණ්ඩ හා සේවා විකිණීමට ලබාදෙන අවසරය මත අය කෙරෙන ගාස්තුව
(3) තමාගේ අවසරය මත භාණ්ඩ හා සේවා විකිණීම සඳහා වරලත් හිමියා විසින් වරලත් ලාභියාට ලබාදෙන වෙළෙඳ නාමය
(4) වරලත් හිමියාගේ අවසරය සහිතව ඔහුගේ වෙළෙඳ නාමය මත භාණ්ඩ හා සේවා විකිණීමෙන් වරලත් ලාභියා විසින් උපයන ලාභය

**29.** යෝජිත නිෂ්පාදන ව්‍යාපාරයක පරිපාලන සැලැස්මෙහි ඇතුළත් කළ යුතු ස්ථාවර වත්කමක් වන්නේ
(1) කම්හල් යන්ත්‍රෝපකරණ ය. (2) කර්මාන්තශාලා ගොඩනැගිලි ය.
(3) කාර්යාලයීය උපකරණ ය. (4) බෙදාහැරීමේ රථවාහන ය.

**30.** හොඳ ව්‍යාපාර අදහසක් තෝරාගැනීම පියවර තුනකින් යුත් ක්‍රියාවලියකින් කළ හැකි ය. එම පියවර තුන අනුපිළිවෙළින් දැක්වෙන පිළිතුර තෝරන්න.
(1) සූක්ෂම විශ්ලේෂණය, ශදුඅත විශ්ලේෂණය, සාර්ව විශ්ලේෂණය
(2) සාර්ව විශ්ලේෂණය, ශදුඅත විශ්ලේෂණය, සූක්ෂම විශ්ලේෂණය
(3) සාර්ව විශ්ලේෂණය, සූක්ෂම විශ්ලේෂණය, ශදුඅත විශ්ලේෂණය
(4) ශදුඅත විශ්ලේෂණය, සූක්ෂම විශ්ලේෂණය, සාර්ව විශ්ලේෂණය

**31.** මානව සම්පත් වැඩි වශයෙන් භාවිත කරමින් වැඩිම විදේශ විනිමයක් ශ්‍රී ලංකාවට උපයාදෙනු ලබන්නේ
(1) ඇඟළුම් කර්මාන්තයයි. (2) තේ කර්මාන්තයයි.
(3) සංචාරක කර්මාන්තයයි. (4) රබර් නිෂ්පාදන කර්මාන්තයයි.

**32.** තනි පුද්ගල ව්‍යාපාරයක් පවත්වාගෙන යනු ලබන රහල්ට තම ව්‍යාපාරය සඳහා බැංකු ණය ලබාගැනීම හා රථවාහන මිල දී ගැනීම වැනි ව්‍යාපාර කටයුතු කිරීමට සිදු වී ඇත්තේ ව්‍යාපාරය නමින් නොව ඔහුගේ නමින් ය. මෙයට හේතුව වන්නේ
(1) ව්‍යාපාරය එක් පුද්ගලයකු සතු වීම ය.
(2) ව්‍යාපාරය ලියාපදිංචිකර නොතිබීම ය.
(3) ව්‍යාපාරයට නීතිමය පුද්ගලභාවයක් නොමැති වීම ය.
(4) ව්‍යාපාරයට අඛණ්ඩ පැවැත්මක් නොමැති වීම ය.

**33.** යෝජිත ව්‍යාපාරයක් සඳහා පිළියෙල කරනු ලබන මුළු ආයෝජන ඇස්තමේන්තුවක ඇතුළත්වන කාරක ප්‍රාග්ධනයෙන් පෙන්නුම් කෙරෙන්නේ
(1) අයිතිකරුවන්ගේ මුළු ආයෝජනය ය.
(2) ආරම්භ කිරීමට පෙර වියදම් ය.
(3) ස්ථාවර වත්කම් මිල දී ගැනීම සඳහා භාවිත කරන මුදල් ය.
(4) දෛනික ව්‍යාපාර කටයුතු සඳහා භාවිත කරන මුදල් ය.

**34.** ව්‍යාපාර කටයුතු සඳහා විකුණුම් ප්‍රවර්ධන උපදෙස් ලබාදීම හඳුන්වනු ලබන්නේ
(1) අලෙවි පහසුකමක් ලෙස ය. (2) උපදේශන පහසුකමක් ලෙස ය.
(3) තාක්ෂණික පහසුකමක් ලෙස ය. (4) යටිතල පහසුකමක් ලෙස ය.

**35.** යෝජිත ව්‍යාපාරයක් සඳහා ව්‍යාපාර සැලසුම සකස් කිරීමේ දී අපේක්ෂිත ප්‍රතිඵල ගණනය කිරීමේ ලේඛනය ඇතුළත් කරනු ලබන්නේ
(1) නිෂ්පාදන සැලැස්මට ය. (2) අලෙවි සැලැස්මට ය.
(3) පරිපාලන සැලැස්මට ය. (4) මූල්‍ය සැලැස්මට ය.

**36.** සංවර්ධනය වෙමින් පවතින රටක් ලෙස ශ්‍රී ලංකාව තුළ ව්‍යවසායකත්ව සංස්කෘතියක් නිර්මාණය කිරීම අවශ්‍ය වන්නේ
(1) නව රැකියා නිර්මාණය කරන්නන් බිහි කළ යුතු නිසා ය.
(2) ආදායම් බෙදීයාම වැඩිකර ගැනීම කළ යුතු නිසා ය.
(3) සෑම විට ම වැඩි නිෂ්පාදනයක් ලබාගත යුතු නිසා ය.
(4) ඉහළ යමින් පවතින ජීවන වියදම පාලනය කර ගත යුතු නිසා ය.

[පස්වැනි පිටුව බලන්න.

**37.** සමස්ත ව්‍යාපාරය ම පිළිබඳ අදහසක් ලබාගත හැකි වන්නේ
(1) පරිපාලන සැලැස්ම තුළිනි.
(2) මූල්‍ය සැලැස්ම තුළිනි.
(3) විධායක සාරාංශය තුළිනි.
(4) අපේක්ෂිත ප්‍රතිඵල ගණනය කිරීමේ ලේඛනය තුළිනි.

**38.** සහන් ව්‍යාපාරයක් ආරම්භ කිරීමේ පරමාර්ථයෙන් රු. 200 000කට කුඩා ගොඩනැගිල්ලක් මිල දී ගෙන, එයට විදුලිය හා ජලය ලබා ගැනීමට පිළිවෙළින් රු. 25 000ක් හා රු. 15 000ක් වියදම් කිරීමට ද රු. 60 000කට ලී බඩු මිල දී ගැනීමට ද අපේක්ෂා කරයි. මෙම තොරතුරුවලට අනුව සහන්ගේ ව්‍යාපාරය ආරම්භ කිරීමට පෙර වියදම්වල වටිනාකම
(1) රු. 25 000 කි. (2) රු. 40 000 කි. (3) රු. 240 000 කි. (4) රු. 300 000 කි.

**39.** කාන්තාවන් තුළ පවතින මෘදුබව හා කරුණාවන්ත බව වැනි ගුණාංග වැඩි වශයෙන් ම අවශ්‍ය වන ව්‍යාපාර අවස්ථාවක් වන්නේ
(1) මල් පැල තවානක් පවත්වාගෙනයාම ය. (2) ළමා සුරැකුම් මධ්‍යස්ථානයක් පවත්වාගෙනයාම ය.
(3) රූපලාවන්‍යාගාරයක් පවත්වාගෙනයාම ය. (4) ළදරු ඇඳුම් වෙළඳසැලක් පවත්වාගෙනයාම ය.

**40.** නිෂාම් තමා සතු රු. 150 000ක මුදල හා රු. 500 000ක් වටිනා මෝටර් බයිසිකලය යොදා ගනිමින් භාණ්ඩ බෙදාහැරීමේ ව්‍යාපාරයක් ආරම්භ කිරීමට අදහස් කරයි. මේ සඳහා ඔහු රු. 200 000ක බැංකු ණය මුදලක් ලබා ගැනීමටත් මෙම මුදලින් රු. 50 000ක ලී බඩු මිල දී ගැනීමටත් අපේක්ෂා කරයි. ඉහත තොරතුරුවලට අනුව නිෂාම්ගේ අපේක්ෂිත ව්‍යාපාරයේ නිවැරදි ඇස්තමේන්තුව කුමක් ද?
(1) මුළු ස්ථාවර වත්කම් රු. 50 000 කි.
(2) මුළු අයිතිකරුගේ ආයෝජනය රු. 150 000 කි.
(3) මුළු මුදල් ගලා ඒම් රු. 800 000 කි.
(4) මුළු ආයෝජනය රු. 850 000 කි.

* *

63 S I, II

අධ්‍යයන පොදු සහතික පත්‍ර (සාමාන්‍ය පෙළ) විභාගය, 2021(2022)
கல்விப் பொதுத் தராதரப் பத்திர (சாதாரண தர)ப் பரீட்சை, 2021(2022)
General Certificate of Education (Ord. Level) Examination, 2021(2022)

**ව්‍යවසායකත්ව අධ්‍යයනය I, II**
முயற்சியாண்மைக் கற்கை I, II
Entrepreneurship Studies I, II

## ව්‍යවසායකත්ව අධ්‍යයනය II

* **පළමුවන** ප්‍රශ්නය ඇතුළුව ප්‍රශ්න **පහකට** පමණක් පිළිතුරු සපයන්න.

**1.** පහත දී ඇති සිද්ධිය හොඳින් කියවා (i) සිට (x) තෙක් ප්‍රශ්නවලට පිළිතුරු සපයන්න.

පාසල් අධ්‍යාපනයෙන් පසු කුසල් තම පියාගේ පලතුරු වෙළෙඳසැලෙහි ව්‍යාපාර කටයුතුවල නිරත වෙමින් සිටියි. පලතුරුවලින් දියර පොහොරයක් සකස් කළ හැකි බව කුසල් දැන සිටියේ ය. ඔහු තම පියාගේ පලතුරු වෙළෙඳසැලේ ඉවත දමන පලතුරු භාවිත කර දියර පොහොර සකස් කර, ඒවා තම ගෙවත්තේ මල් පාත්තිවලට යොදා සාර්ථක ප්‍රතිඵල ලබාගෙන ඇත. රසායනික පොහොර ආනයනය සීමා කිරීම තුළින් ඇති වූ පොහොර අර්බුදයෙන් පසු පලතුරුවලින් කාබනික දියර පොහොරයක් සකස් කර, ඒවා තම ප්‍රදේශයේ සිටින වෘත්තියක් ලෙස මල් පැල වවන්නන්ට විකිණීම සඳහා ව්‍යාපාරයක් ආරම්භ කිරීමට කුසල් තීරණය කළේ ය.

කුසල් තම ව්‍යාපාරය වෙනුවෙන් පහත සඳහන් දෑ කිරීමට අපේක්ෂා කරයි.

- ව්‍යාපාර සැලැස්මක් සකස් කිරීම හා 12%ක වාර්ෂික පොලියකට යටත්ව රු. 100 000ක බැංකු ණයක් ලබා ගැනීම
- රු. 150 000ක තම මුදල් යෙදවීමත් මෙම මුදලින් රු. 50 000ක ඇඹරුම් යන්ත්‍රයක් හා රු. 25 000ක උපකරණ මිල දී ගැනීම
- කල් ඉකුත් වූ පලතුරු තම පියාගේ හා ප්‍රදේශයේ අනිකුත් පලතුරු වෙළෙඳසැල්වලින් අඩු මිලට ලබා ගැනීම
- පොහොර නිෂ්පාදන කටයුතු සඳහා තම සොහොයුරියගෙන් ද ඒවා බෙදාහැරීමේ කටයුතු සඳහා තම සොහොයුරාගෙන් ද සේවය ලබා ගැනීම
- අත්පත්‍රිකා හා සමාජ මාධ්‍ය ඔස්සේ තම නිෂ්පාදිත ප්‍රචාරණය කිරීම

(i) නව දියර පොහොරක් නිෂ්පාදනය කිරීමෙන් හා තමාගේ ම ව්‍යාපාරයක් ආරම්භ කිරීම තුළින් කුසල් පෙන්නුම් කරන ව්‍යවසායකත්ව ගති ලක්ෂණ **දෙකක්** සඳහන් කරන්න.

(ii) කුසල්ට මෙම ව්‍යාපාර අදහස මතුවීම සඳහා හේතු වූ කරුණු **දෙකක්** ලියන්න.

(iii) කුසල්ගේ ව්‍යාපාරයේ දක්නට ලැබෙන කුඩා පරිමාණ ව්‍යාපාරයක ලක්ෂණ **දෙකක්** නිදසුන් සහිතව ලියන්න.

(iv) ව්‍යාපාරය සඳහා අයිතිකරුගේ භූමිකාව ඉටුකිරීමේ දී කුසල් කළ යුතු කාර්ය **දෙකක්** සඳහන් කරන්න.

(v) කුසල්ගේ ව්‍යාපාරයේ අලෙවි සැලැස්මෙහි ඇතුළත් කළ යුතු, සිද්ධියේ සඳහන් කරුණු **දෙකක්** ලියන්න.

- කුසල්ගේ ව්‍යාපාරයේ මාසයක් සඳහා ඇස්තමේන්තුගත ආදායම් හා වියදම් පහත දැක්වේ.

| **වියදම් :** | රු. |
|---|---|
| අමුද්‍රව්‍ය | 80 000 |
| නිෂ්පාදන සහායකගේ වැටුප | 25 000 |
| බෙදාහැරීමේ සහායකගේ වැටුප | 15 000 |
| වෑන් රථ කුලී | 16 000 |
| ඇසුරුම් භාජන | 10 000 |
| බැංකු ණය පොලී | 1 000 |
| ප්‍රචාරණ හා වෙනත් වියදම් | 3 000 |
| **ආදායම් :** | |
| විකුණුම් | 200 000 |

(vi) කුසල්ගේ ව්‍යාපාරයේ ඇස්තමේන්තුගත ස්ථාවර වත්කම් **දෙකක්** වටිනාකම් සහිතව ලියන්න.

(vii) කුසල්ගේ ව්‍යාපාරයේ ඇස්තමේන්තුගත මුදල් ගලා ඒම් **දෙකක්** හා මුදල් ගලා යාම් **දෙකක්** සඳහන් කරන්න.

(viii) ඉහත තොරතුරුවලින් කුසල්ගේ ව්‍යාපාරයේ අපේක්ෂිත මුළු නිෂ්පාදන පිරිවැය ගණනය කිරීමේ දී භාවිත කෙරෙන අයිතම **දෙකක්** ලියන්න.

(ix) කුසල්ගේ ව්‍යාපාරයේ යෝජිත මුළු ආයෝජනය ගණනය කරන්න.

(x) කුසල්ගේ ව්‍යාපාරයේ මාසයක් සඳහා අපේක්ෂිත මුළු වියදම හා ශුද්ධ ලාභය ගණනය කරන්න.

(ලකුණු 02 × 10 = 20 යි)

[හත්වැනි පිටුව බලන්න.

**2.** (i) නවෝත්පාදනයේ පදනම වන නිර්මාණශීලීත්වයට බාධා කෙරෙන සාධක **දෙකක්** සඳහන් කරන්න.

(ii) 'සෑම ව්‍යාපාරිකයකු ම ව්‍යවසායකයකු නොවේ.' මෙම ප්‍රකාශය සනාථ කිරීම සඳහා ව්‍යාපාරිකයා හා ව්‍යවසායකයා අතර වෙනස කෙටියෙන් පැහැදිලි කරන්න.

(iii) අවශ්‍යතා හා වුවමනා අතර පවතින සම්බන්ධතාවය නිදසුනක් ඇසුරෙන් කෙටියෙන් පැහැදිලි කරන්න.

(iv) ව්‍යවසායකයකුට රජයේ දිරිගැන්වීම් අවශ්‍ය වීමට හේතු **දෙකක්** සඳහන් කරන්න.

(v) ශ්‍රී ලංකාවේ ව්‍යවසායකත්වය සංවර්ධනය කළ යුතු වන්නේ කුමක් නිසා දැයි කෙටියෙන් පැහැදිලි කරන්න.

(ලකුණු 02 × 05 = 10 යි)

**3.** (i) අතීත ව්‍යාපාර හා සසඳන විට නූතන ව්‍යාපාර පරිසරයේ දැකිය හැකි ප්‍රධාන වෙනස්කම් **හතරක්** දක්වන්න.

(ii) ශ්‍රී ලංකාවේ පවතින සම්පත් ප්‍රධාන කොටස් දෙකකට වර්ග කළ හැකි ය. මෙම කොටස් **දෙක** නම් කර, ඒ එකිනෙක සඳහා නිදසුන බැගින් දක්වන්න.

(iii) ව්‍යාපාරයක පරිසර ප්‍රවණතාවලට සංවේදී වීමෙන් ව්‍යාපාරයකට ලබාගත හැකි වාසි **දෙකක්** සඳහන් කරන්න.

(iv) 'ඉලක්කගත පාරිභෝගිකයින්' ලෙස සැලකෙන්නේ කවුරුන් ද?

(v) හොඳ ව්‍යාපාර අදහසක ලක්ෂණ **හතරක්** සඳහන් කරන්න.

(ලකුණු 02 × 05 = 10 යි)

**4.** (i) ඕනෑම ව්‍යාපාර සංවිධානයක දැකිය හැකි පොදු ලක්ෂණ **දෙකක්** ලියන්න.

(ii) රාජ්‍ය අංශයේ ව්‍යාපාර සංවිධාන **දෙකක්** නම් කරන්න.

(iii) තනි ස්වාමි ව්‍යාපාරයකට වඩා හවුල් ව්‍යාපාරයකින් ලැබිය හැකි වාසි **දෙකක්** ලියන්න.

(iv) වරලත් ව්‍යාපාරයක මූලික ලක්ෂණ සඳහන් කරන්න.

(v) සීමාසහිත පෞද්ගලික සමාගමක් ලියාපදිංචි කිරීම සඳහා සමාගම් රෙජිස්ට්‍රාර්වරයා වෙත ඉදිරිපත් කළ යුතු ලියවිලි මොනවාද?

(ලකුණු 02 × 05 = 10 යි)

**5.** (i) කුඩා පරිමාණ ව්‍යාපාර රටක ආර්ථික සංවර්ධනය සඳහා ලබාදෙන ප්‍රතිලාභ **දෙකක්** සඳහන් කරන්න.

(ii) කොවිඩ්-19 වසංගතය හේතුවෙන් කුඩා පරිමාණ ව්‍යාපාර සඳහා බලපාන ලද තර්ජන **දෙකක්** සඳහන් කරන්න.

(iii) කුඩා පරිමාණ ව්‍යාපාර හා ව්‍යවසායකත්වය අතර සම්බන්ධතාවය කෙටියෙන් පැහැදිලි කරන්න.

(iv) කළමනාකරුගේ භූමිකාව ඉටු කිරීම සඳහා ව්‍යවසායකයකු විසින් සිදුකළ යුතු කාර්ය **දෙකක්** ලියන්න.

(v) ව්‍යවසායකයකුගේ සන්නිවේදන කුසලතා පෙන්නුම් කෙරෙන ව්‍යාපාරික කටයුතු **හතරක්** සඳහන් කරන්න.

(ලකුණු 02 × 05 = 10 යි)

**6.** (i) ශ්‍රී ලංකාව තුළ ව්‍යවසායකත්ව සංස්කෘතියක් බිහිවීම සඳහා හිතකර සමාජයීය හා ආර්ථික සාධක **දෙකක්** සඳහන් කරන්න.

(ii) ශ්‍රී ලංකාව තුළ කාන්තා ව්‍යවසායකයකු වීම සඳහා කාන්තාවන් සතු ශක්තීන් **දෙකක්** නම් කරන්න.

(iii) වාණිජ බැංකු මගින් ව්‍යවසායකයින්ට ලබාදෙන මූල්‍ය දිරිදීමනා **දෙකක්** ලියන්න.

(iv) ව්‍යාපාර සැලැස්මක මූලිකාංග මොනවා ද?

(v) ව්‍යාපාර සැලැස්මක් පිළියෙල නොකිරීමෙන් ව්‍යවසායකයකුට මුහුණපෑමට සිදුවන ගැටලු **දෙකක්** සඳහන් කරන්න.

(ලකුණු 02 × 05 = 10 යි)



 

**7.** සහන් ප්‍රාථමික පංතිවල පාසල් සිසුන්ට බෑග් නිෂ්පාදනය කිරීම සඳහා ව්‍යාපාරයක් ආරම්භ කිරීමට අපේක්ෂා කරයි. මේ සඳහා තමා සතු රු. 200 000ක් වටිනා කුඩා ගොඩනැගිල්ල භාවිත කිරීමටත් රු. 100 000ක බැංකු ණයක් ලබාගෙන එම මුදලින් රු. 50 000ක් බැගින් වූ මහන මැෂින් දෙකක් මිල දී ගැනීමටත් අනිකුත් ඇස්තමේන්තුගත වියදම් සඳහා තම මුදල් ආයෝජනය කිරීමටත් සහන් තීරණය කර ඇත.

**ඇස්තමේන්තුගත වියදම්:** **රු.**

| | |
|---|---|
| ව්‍යාපාර සැලැස්ම පිළියෙල කිරීමට ............................ | 2 000 |
| ලී බඩු මිල දී ගැනීමට ............................................ | 45 000 |
| ව්‍යාපාරය ලියාපදිංචි කිරීමට ..................................... | 3 000 |
| දෛනික ව්‍යාපාරික කටයුතු සඳහා ........................... | 150 000 |

**අවශ්‍ය වන්නේ:**

**මුළු ස්ථාවර වත්කම්, ආරම්භ කිරීමට පෙර වියදම්, මුළු කාරක ප්‍රාග්ධන අවශ්‍යතාව** හා **මුළු ආයෝජනය** දැක්වෙන පරිදි පහත සඳහන් ආකෘතිය භාවිත කරමින් සහන්ගේ ව්‍යාපාරයේ මුළු ආයෝජන ඇස්තමේන්තුව පිළියෙල කිරීම.

| විස්තරය | යෝජිත ආයෝජනය | | මුළු ආයෝජනය රු. |
|---|---|---|---|
| | අයිතිකරු රු. | බැංකු ණය රු. | |
| | | | |

(ලකුණු 10 යි)

✻ ✻ ✻